අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

ක්‍රිස්තියානි ධර්මය I
கிறிஸ்தவம் I
Christianity I

43 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

- **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
- උත්තර පත්‍රයේ දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
- **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොද දක්වන්න.**

**1.** ශුද්ධ වූ ක්ලෙමන්ට්තුමා ප්‍රකාශ කළ ආකාරයට ශුද්ධ බයිබලය,
(1) ශ්‍රේෂ්ඨ ග්‍රන්ථයකි. (2) විශේෂිත ග්‍රන්ථයකි.
(3) පූජනීය ග්‍රන්ථයකි. (4) අද්විතීය ග්‍රන්ථයකි.
(5) පුරාණ ග්‍රන්ථයකි.

**2.** 'පොත්' යන්න අර්ථ ගැන්වෙන ග්‍රීක වචනය කුමක් ද?
(1) බිබ්ලිඔන් (2) වල්ගේට් (3) සෙප්ටුවාජින්ත (4) ඩිඩාකේ (5) එක්ලේසියා

**3.** දෙවියන් වහන්සේගේ බලපරාක්‍රමය පිළිනොගත් බැවින් ඊශ්‍රායෙල් ජනයා සමඟ පොරොන්දු දේශයට යාමට නොහැකි වන බව ප්‍රකාශ කරන්නේ,
(1) ආරොන්ට හා ජොෂුවාට ය.
(2) ජොෂුවාට හා මෝසස්ට ය.
(3) ඉශ්‍රායෙල්ට හා ප්‍රජා මූලිකයන්ට ය.
(4) අමලෙක්වරුන්ට හා ආරොන්ගේ වංශයට ය.
(5) මෝසස්ට හා ආරොන්ට ය.

**4.** දේව මැදහත්වීම තුළ රජු ඉදිරියට යාම සඳහා ධෛර්යවන්ත වෙමින් විශ්වාසය තුළින් අපේක්ෂා ජය ගනු ලැබුවේ,
(1) එස්තර් ය. (2) සැම්සන් ය. (3) සාමුවෙල් ය. (4) දෙබෝරා ය. (5) බාරුක් ය.

**5.** රාජ්‍ය වියදම් පියවා ගැනීමට අයබදු ක්‍රමයක් හඳුන්වා දෙනු ලැබුවේ,
(1) දාවිත් රජු ය. (2) සාවුල් රජු ය.
(3) සලමන් රජු ය. (4) රෙහොබොවාම් රජු ය.
(5) ජෙරොබොවාම් රජු ය.

**6.** පළමු මැවීමේ කථාවට අනුව දෙවන දවසට සමාන්තර ව දක්වා ඇත්තේ කී වැනි දවස ද?
(1) පළමුවන දවස (2) තුන්වන දවස
(3) හතරවන දවස (4) පස්වන දවස
(5) හයවන දවස

**7.** දෙවන මැවීමේ කථාවට අනුව මිනිසා දෙවියන් සමඟ මැවීමේ කාර්යයට සම්බන්ධ වන්නේ,
(1) පණ ඇති සියල්ලට ම නම් තැබීම තුළිනි. (2) මැවිල්ල පාලනය කිරීම තුළිනි.
(3) මැවිල්ල සංවර්ධනය කිරීම තුළිනි. (4) පාපයෙන් ඉවත්වීම තුළිනි.
(5) යාග ඔප්පු කිරීම තුළිනි.

**8.** 'පාපය' පිළිබඳ ව දී ඇති පහත සඳහන් ප්‍රකාශ සැලකිල්ලට ගන්න.
A - දෙවිඳුන්ට අයිති දේ උදුරා ගැනීමකි.
B - ලෞකිකත්වයට වහල්වීමකි.
C - දේව සැලැස්ම විකෘති කිරීමකි.
D - සිනයි ගිවිසුම කඩ කිරීමකි.
මේවායින් බයිබල් විශාරදයින් පෙන්වා දෙන පරිදි 'පාපය' යන්න දැක්වෙන නිවැරදි ප්‍රකාශ වන්නේ,
(1) A හා B ය. (2) A හා C ය. (3) A හා D ය. (4) B හා C ය. (5) B හා D ය.

[ දෙවැනි පිටුව බලන්න.

**9.** මිනිස් දුබලතා උපයෝගී කර ගෙන දෙවියන් වහන්සේ ස්වකීය සැලැස්ම ඉදිරියට ගෙන යන බව දැක්වීමට සුදුසු උදාහරණයක් වන්නේ,
(1) ඊසාක්තුමාගේ ජීවිතයයි. (2) ආබ්‍රහම්තුමාගේ ජීවිතයයි.
(3) මෝසස්තුමාගේ ජීවිතයයි. (4) දාවිත් රජතුමාගේ ජීවිතයයි.
(5) ජාකොබ්තුමාගේ ජීවිතයයි.

**10.** ජුදා පාස්කු පිළිවෙතේ නුමුහුන් පූප භාවිතයෙන් අර්ථවත් වූයේ,
(1) මංගල්‍යයක් හෝ උත්සවයක් වැනි සැමරීමකි.
(2) දේව නියමය කඩිනමින් ඉටු කළ යුතු බව ය.
(3) දෙවියන් හා ඇති කර ගත් ගිවිසුමේ සංකේතයයි.
(4) වහල්කමේ වූ අමිහිරි දුක් ගායනා සිහිපත් කිරීම ය.
(5) බලාපොරොත්තු නො වූ අවස්ථාවක වහල්කමින් මිදීම සිහි කිරීමකි.

**11.** පාරාවෝ රජතුමාගේ ඔටුන්න මත දක්නට ලැබුණේ කුමන සත්ත්වයකුගේ ලාංඡනයක් ද?
(1) සර්පයාගේ (2) එළුවාගේ (3) පළඟැටියාගේ (4) රාජාලියාගේ (5) උකුස්සාගේ

**12.** පෙරදිග ලෝකයේ පැරණි ශිෂ්ටාචාරවල පැවති දේශපාලනික හා සමාජීය ක්ෂේත්‍රවල ඇති කරගත් ගිවිසුම්වල විශේෂ ලක්ෂණයක් වන්නේ,
(1) දෙපාර්ශ්වයේ එකඟතාව මත කොන්දේසි ස්ථාපිත කිරීම ය.
(2) ගිවිසුමට බැඳුණ ද, එයට විශ්වාසවන්ත ව නො සිට පිටුපා යාමකි.
(3) දෙපාර්ශ්වයේ එකඟතාව මත කොන්දේසි ස්ථාපිත කිරීම හා දෙවි කෙනකු එයට සාක්ෂි දැරීම ය.
(4) සැමවිට ම දෙවි සමිඳාණන් වහන්සේ ගිවිසුම ස්ථිර කිරීම ය.
(5) මිනිසා ගිවිසුමට බැඳී නොසිට නිරන්තරයෙන් ඊට පිටුපෑම ය.

**13.** විප්‍රවාසීව සිටි ජනතාවට නව ජීවනය පිළිබඳව බලාපොරොත්තුවක් ඇති කරමින් එම නව ජීවනය ඔවුන්ගේ ජීවිතයේ සෑම අංශයකට ම පැතිරී යන බව පෙන්නුම් කළ දිවැසිවරයා වන්නේ,
(1) යෙසායා ය. (2) ආමෝස් ය. (3) එසකියෙල් ය. (4) ජෙරමියා ය. (5) මීකා ය.

**14.** දෙවියන් උදෙසා උන් වහන්සේගේ පණිවුඩය ප්‍රසිද්ධියේ නිර්භය ව කාලෝචිත ව ප්‍රකාශ කරන අය හඳුන්වන ග්‍රීක වදන කුමක් ද?
(1) නබී (2) ප්‍රොෆේටස් (3) යාවේ (4) හෙසෙඩ් (5) මතථේස්

**15.** දිවැසිවර යෙසායා සඳහන් කරන පරිදි මිදිවත්ත පිළිබඳ ගීයේ පළමු වගන්තියේ පෙම්වතා ලෙස සංකේතවත් කරන්නේ,
(1) ඉශ්‍රායෙල් වංශය ය. (2) ජුදා සෙනඟ ය.
(1) බැටළු එඬේරා ය. (2) දෙවියන් වහන්සේ ය.
(5) ජේසුස් වහන්සේ ය.

**16.** පලස්තීන දේශය ගලීලය, ජුදයාව හා සමාරිය ලෙසින් පළාත් තුනකට බෙදා පාලනය කරන ලද්දේ,
(1) යුව රජවරුන් ය. (2) රජවරුන් ය.
(3) මහ ඇමතිවරුන් ය. (4) ප්‍රාදේශීය පාලකවරුන් ය.
(5) අධිරාජ්‍යයන් ය.

**17.** පලස්තීනයේ විසූ අයගෙන් තම ඉරණම කුරුසය බවට පත්ව තිබූයේ,
(1) සුංගම් අය කරන්නන්ට සහ වහලුන්ට ය.
(2) පව්කාරයින්ට සහ මංපහරන්නන්ට ය.
(3) ගිනි පොලීකරුවන්ට සහ සූදුකෙළින්නන්ට ය.
(4) සමාරියයන්ට සහ අයකැමියන්ට ය.
(5) සෙලට්වරුන් සහ මංපහරන්නන්ට ය.



**18.** මෝසස්ගේ ඉගැන්වීම් දැඩි ලෙස පිළිපදිනු ලැබූයේ,
(1) පරිසිවරුන් ය. (2) සදුසිවරුන් ය. (3) ලේකම්වරුන් ය.
(4) එසේනිවරුන් ය. (5) හෙරෝදිවරුන් ය.

**19.** දේව රාජ්‍යය පිළිබඳව දක්වා ඇති අදහස් කිහිපයක් පහත සඳහන් වේ.
A - දේව රාජ්‍යයේ අධිපති දෙවියන් වහන්සේ
B - මෙම ආධිපත්‍යය යටතේ සිටින ජනතාව
C - ජනතාව පාලනය
D - ජුදා ජනතාව වහල්කම්වලින් මුදා ගැනීම
E - මිනිස් ශක්තියෙන් පිරිපුන් ව ගොඩනැඟුණු රාජ්‍යයක් වීම
මේවායින් දේව රාජ්‍යය පිළිබඳ ව වඩාත් නිවැරදි අදහස් ඇතුළත් වරණය තෝරන්න.
(1) A, B හා C (2) A, B හා D (3) A, B හා E (4) A, C හා D (5) A, C හා E

[ තුන්වැනි පිටුව බලන්න.

**20.** බෙතානියේ සුවඳ තෛලයෙන් ආලේප කිරීමේ සිද්ධිය මගින් ශුද්ධ වූ මාක්තුමා ඉදිරිපත් කිරීමට උත්සාහ දරණ පණිවුඩය කුමක් ද?
(1) ජේසුතුමා දේව සැලැස්ම අවසන් වීම පවසන බව ය.
(2) ජේසුතුමාගේ බැහැපත්කම පිළිබඳ ව ය.
(3) මෙසියානු රහස ඉදිරිපත් කිරීම පිළිබඳ ව ය.
(4) ජුදාස් පාවා දෙන බව ය.
(5) මෙසියස්තුමා පාස්කු අභිරහසට පෙර ආලේප කළ බව ය.

**21.** "දෙවියන් වහන්සේ ලෝකයට කෙතරම් ප්‍රේම කළ සේක් දැ'යි කීවොත් ස්වකීය ඒක ජාතික පුත්‍රයා වුව ද ලොවට දෙවා වදාළ සේක." මෙම ප්‍රකාශය තුළින් කියැවෙන්නේ,
(1) දේව ප්‍රේමය තුළ ජීවත්වීමේ වටිනාකම පිළිබඳව ය.
(2) දෙවි පියාණන් ජනතාවට දක්වන කරුණාව පිළිබඳව ය.
(3) මැවුම්කරුවාණන්ගේ ඉමහත් ප්‍රේමය පිළිබඳව ය.
(4) දේව ප්‍රේමය තුළ විමුක්තිය ලබා ගත හැකි මාර්ගය පිළිබඳව ය.
(5) මැවුම්කරුවාණන් හා මුළුමනින් ඒකාබද්ධ වූ ජීවිතයක් පිළිබඳව ය.

**22.** කුරුසයේ රැඳ වූ චෝදනා පත්‍රය වෙනස් කර, මෙසේ නැවත ලියා තබන්නැ'යි ජුදා නායක පූජකයන් පිලාත්ට, යෝජනා කරන ලද ප්‍රකාශය කුමක් ද?
(1) 'ජේසු නසරේනු ජුදයින්ගේ රජු වේ.'
(2) 'ජේසු නසරේනු ජුදයින්ගේ රජු නො වේ.'
(3) 'ජේසු ජුදයින්ගේ රජු'
(4) 'ජුදෙව්වරුන්ගේ රජු වූ නාසරෙත් හි ජේසුස්'
(5) 'මොහු ජුදයන්ගේ රජ යැයි මොහු කියා ගත්තේ ය.'

**23.** ශුද්ධ වූ ජොහන් 18:1-11 ට අනුව ජේසුස් වහන්සේ පේදුරුට "කඩුව කොපුවේ දමා ගන්න" යැයි පැවසුයේ,
(1) කඩු ගන්නෝ කඩුවෙන් නසින නිසා ය.
(2) ලෞකික බලයට ස්වකීය කැමැත්තෙන් ම නතු වන බව ය.
(3) පේදුරුගේ අපලාපය ගැන දැන සිටි නිසා ය.
(4) ස්වර්ගීය සේනා ජේසු වෙනුවෙන් සටන් කරන නිසා ය.
(5) ජේසුස් වහන්සේ අත්අඩංගුවට ගැනීමට ආයුධ රැගෙන ආ නිසා ය.

**24.** සමදර්ශක සුවිශේෂකවරුන් අතර 'දේව රාජ්‍යය' යන වචනය මාක්තුමා 14 වතාවක් ද, ලූක්තුමා 32 වතාවක් ද, භාවිත කරන අතර මතෙව්තුමා 4 වතාවක් පමණක් භාවිත කිරීමට හේතුව වශයෙන් පෙන්වා ඇත්තේ,
(1) ජුදෙව් ජනතාව දෙවියන් වහන්සේගේ නාමය භාවිත කිරීමට දක්වන මැළිකම ය.
(2) සමදර්ශක සුවිශේෂවල අසමානකම් ඇති බව ය.
(3) සුවිශේෂකවරුන් තිදෙනාගේ පරමාර්ථ වෙනස් නිසා ය.
(4) සුවිශේෂකවරුන් තිදෙනාගේ විවිධ පසුබිම නිසා ය.
(5) ක්‍රිස්තුන් වහන්සේගේ ජීවිත තොරතුරුවලට මුල් තැන දුන් නිසා ය.

**25.** ක්‍රිස්තුන් වහන්සේ තම ශ්‍රාවකයින්ට ශුද්ධාත්මයාණන් තුළින් අන් අයගේ පව් කමා කිරීමේ බලය දානය කළේ,
(1) ඔවුන්ගේ හිස මත අත තබා යාච්ඤා කිරීමෙන් ය.
(2) ඔවුන් සමග දණ ගසා පියාණන් වහන්සේට යැදීමෙන් ය.
(3) ඔවුන් මත හුස්ම හෙළා ශක්තිය හා ජීවනය දානය කිරීමෙන් ය.
(4) ස්වාමිවාක් ආරාධනාව ඉගැන්වීමෙන් ය.
(5) අන්තිම රාත්‍රි භෝජනයෙන් පසුව ය.

**26.** ශුද්ධ වූ පාවුලුතුමා සිරගෙදර සිටිය දී තමාගේ දරුවකු සේ සැලකූ පුද්ගලයාගේ නම කුමක් ද?
(1) බාර්ණබස් (2) සීලස් (3) මාර්ක් (4) ඔනේසිමස් (5) පේදුරු

**27.** මාංශ උත්ථානය පිළිබඳ විස්තර කිරීම සඳහා ශුද්ධ වූ පාවුලුතුමා යොදා ගත් උපමාව වන්නේ,
(1) මිය ගිය ශරීරයකි. (2) වළලනු ලබන බීජයකි.
(3) පැළ වී එන අංකුරයකි. (4) වර්ධනය වන ගසකි.
(5) වියළී ගිය ඇට කටු ය.

**28.** දිව්‍ය පූජාවේ උච්චාරණය කරනු ලබන නිසියානු විශ්වාස ලක්ෂණය, සභාවේ වේද සත්‍යතාවක් බවට පිළිගත් මන්ත්‍රණ සභාව වූයේ,
(1) ජෙරුසලෙම් මන්ත්‍රණ සභාව ය. (2) නිසියානු මන්ත්‍රණ සභාව ය.
(3) කැල්සිඩෝන් මන්ත්‍රණ සභාව ය. (4) එපීස මන්ත්‍රණ සභාව ය.
(5) කොන්ස්තන්තිනෝපල් මන්ත්‍රණ සභාව ය.

**29.** ශ්‍රී ලංකාවට පෘතුගීසින් පැමිණි පුවත එවකට සිටි සසුන් එඬේරාණන් වන දෙවන ජූලියස් ශුද්ධෝත්තම පියතුමාට දන්වන ලද්දේ,
(1) ෆ්‍රැන්සිස්කෝ ද අල්මේදා ය.
(2) ලොරෙන්සෝ ද අල්මේදා ය.
(3) විසෙන්තේ නම් පූජකතුමා ය.
(4) I වන මනුවෙල් රජු ය.
(5) V වන ධර්මපරාක්‍රම රජු ය.

**30.** ශුද්ධාසනය විසින් ලක්බිමට එවන ලද ප්‍රථම යුරෝපීය ධර්මදූතවරයා වන්නේ,
(1) ගරු ඔරාෂියෝ බැටකිනි පියතුමා ය.
(2) ගරු අන්තෝනියෝ කයිතානෝ පියතුමා ය.
(3) ගරු ජෝශප් බ්‍රාවි පියතුමා ය.
(4) ගරු වින්සන් රොසයිරෝ පියතුමා ය.
(5) ගරු ස්ටීවන් සෙමරියා පියතුමා ය.

**31.** දේශීය පූජකවරුන් පුහුණු කිරීම සඳහා, ශ්‍රී ලංකාවේ ප්‍රථම දේව ශාස්ත්‍රාලය ඇරඹුවේ,
(1) ගරු ජුසේවාස් පියතුමා ය.
(2) ගරු ජාකෝමේ ගොන්සාල්වේස් පියතුමා ය.
(3) ගරු ක්‍රිස්ටෝෆර් බොන්ජන් පියතුමා ය.
(4) අතිඋතුම් එඩ්මන්ඩ් පීරිස් රදගුරුතුමා ය.
(5) අතිඋතුම් ඕ මැසනඩ් රදගුරුතුමා ය.

**32.** VII වන බුවනෙකබාහු රජතුමාගේ ඉල්ලීම පරිදි පෘතුගාලයෙන් පැමිණි ධර්මදූත කණ්ඩායමේ නායකයා කවුද?
(1) ගරු වින්සෙන්ති පියතුමා
(2) ගරු මිගෙල් ද මෙල්ලෝ පියතුමා
(3) ගරු ජෝශප් රුවැල්ලෝ පියතුමා
(4) ගරු ජෝෂප් බ්‍රාවි පියතුමා
(5) ගරු ජෝන් ද විලා ද කොන්ඩේ පියතුමා

**33.** පෘතුගීසි යුගයේ දෙමළ කිතුනු සාහිත්‍යයේ පීතෘවරයා ලෙස හඳුන්වන්නේ,
(1) ගරු ඩී. නොබිලේ පියතුමා ය.
(2) ගරු හෙන්ද්‍රි හෙන්රිකස් පියතුමා ය.
(3) පේදුරු පුලවර් මහතා ය.
(4) ගරු සුවං තර්වාලු දේවගැතිතුමා ය.
(5) පර්සිවල් අයියර් මහතා ය.

**34.** මිනිසුන්ගේ මූලික අයිතිවාසිකම් සුරැකීම, සමාජීය අවශ්‍යතා සපුරාලීම අරමුණු කර ගනිමින් ශ්‍රී ලංකාවේ සෑම රදගුරු වසමක ම සේවයේ යෙදෙන කිතුනු සමාජ සුබසාධක දයා සේවා ආයතනය කුමක් ද?
(1) සාන්ත වින්සන් ද පාවුලා දයා සේවාව
(2) තරුණ ක්‍රිස්තියානි සංගමය
(3) තරුණ කාන්තා ක්‍රිස්තියානි සංගමය
(4) කරිටාස් ශ්‍රී ලංකා (සෙඩෙක්)
(5) ගිහි අපෝස්තලික සේවාව

**35.** අපෝස්තලික යුගයේ ජනවන්දනාව කොටස් තුනකින් සමන්විත විය. එයින් දෙකක් වනුයේ,
(1) දේව වාක්‍ය මෙහෙය හා ස්තෝත්‍රික යාගික මෙහෙයයි.
(2) දේව වාක්‍ය මෙහෙය හා අවසන් පිළිවෙතයි.
(3) ආරම්භක පිළිවෙත හා අනුභවයේ පිළිවෙතයි.
(4) ආරම්භක පිළිවෙත හා පූප කැඩීමේ පිළිවෙතයි.
(5) 'අගපේ' භෝජන සංග්‍රහය හා පූප කැඩීමේ පිළිවෙතයි.

**36.** පව්කරුවන්ට තම හස්ත පිරිසිදු කරගෙන හෘදයන් පවිත්‍ර කර ගැනීමට අවවාද කර ඇත්තේ,
(1) ශුද්ධ වූ ජොහන්තුමාගේ දෙවන ලිපියෙහි ය.
(2) අපොස්තුළුවරුන්ගේ ක්‍රියා පොතෙහි ය.
(3) ජාකොබ්තුමාගේ ලිපියෙහි ය.
(4) කොලොස්සි ලිපියෙහි ය.
(5) පේදුරුතුමාගේ පළමු ලිපියෙහි ය.



**37.** රෝමානු පිළිවෙත්වල විශේෂ ලක්ෂණ අතර දක්නට ලැබෙන ගාම්භීර බවේ ප්‍රධාන කරුණු දෙක මොනවා ද?
(1) සංයමයකින් යුක්ත බව - බුද්ධි ගෝචර බව
(2) මනා පෙර සූදානමක් ඇති බව - උසස් ගුණාත්මක බව
(3) බුද්ධි ගෝචර බව - කෙටි බව
(4) උසස් ගුණාත්මක බව - බුද්ධි ගෝචර බව
(5) මනා පෙර සූදානමක් ඇති බව - සංයමයකින් යුක්ත බව

**38.** "මූලික ප්‍රාථමික සක්‍රමේන්තුව ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ය." මේ බව ප්‍රකාශ කරන්නේ,
(1) කාල් රානර් ය.
(2) නිව්ටන් ය.
(3) සාන්ත අගොස්තීනු මුනිතුමා ය.
(4) සාන්ත සිප්‍රියන් මුනිතුමා ය.
(5) සාන්ත තෝමස් ඇක්වයිනස් මුනිතුමා ය.

**39.** කිතුනු ජීවිතයේ කේන්ද්‍රය දිව්‍ය පූජාව බව සාකච්ඡා කෙරෙන්නේ කිනම් විශ්ව ලේඛනය මගින් ද?
(1) මිස්ටේරියුම් ෆිදෙයි
(2) මීදියාතෝර් දේයි
(3) එක්ලේසියා දි යුකරිස්තියා
(4) සක්‍රමෙන්ටුම් යුනිටාටිස්
(5) ලූමෙන් ජෙන්සියුම්

[ පස්වැනි පිටුව බලන්න.

3852

**40.** 'තෙද යස කිරුළක් ඔහු හිස පලඳන ලද්දේ ය.' යනුවෙන් ගීතාවලියේ සංගීතකරුවා ප්‍රකාශ කර ඇත්තේ,
(1) දෙවි සමිඳාණන්ගේ තේජශ්‍රීය පිළිබඳව ය. (2) දේවත්වයේ උදාරත්වය පිළිබඳව ය.
(3) මනුෂ්‍යත්වයේ උදාරත්වය පිළිබඳව ය. (4) මනුෂ්‍යත්වයේ තේජශ්‍රීය පිළිබඳව ය.
(5) ජේසු සමිඳාණන්ගේ උදාරත්වය පිළිබඳව ය.

**41.** "දැසට පෙනෙන සියලු මැවිලි අතුරින් මැවුම්කාරයාණන් වහන්සේ දැනගෙන උන් වහන්සේට ප්‍රේම කළ හැක්කේ මනුෂ්‍යයාට පමණි." මෙම ප්‍රකාශය තුළින් මනුෂ්‍යත්වයේ උසස් බව ඉස්මතු කරයි. එය ඉගැන්වීමක් ලෙස ඉදිරිපත් කරන්නේ,
(1) ආගමික නිදහස ය. (2) වර්තමාන ලෝකයේ ශුද්ධ වූ සභාව ය.
(3) කිතුනු සභා ඒකත්වය ය. (4) කතෝලික සභා මහෝපදේශය ය.
(5) කාන්තාවන් පිළිබඳ කිතුනු චින්තනය ය.

**42.** මෙසියස්තුමාගේ සුලක්ෂණ අතුරෙන් 'ශාලොම්'යන්නෙහි අර්ථය පිළිබිඹු වන්නේ පහත සඳහන් කුමන නාමින් ද?
(1) අසිරිමත් උපදේශකයාණෝ (2) ප්‍රතාපවත් දෙවිතුමාණෝ
(3) සදාතනික පියාණෝ (4) සාමයේ කුමාරයාණෝ
(5) ධර්මිෂ්ඨ මෙසායා

**43.** දේව අභිමතය විමසා බලා එයට අවනත ව ඒ ඔස්සේ ජීවත්වීම යනු,
(1) ධර්මිෂ්ඨකමයි. (2) යුක්තියයි.
(3) සාධාරණත්වයයි. (4) සමානාත්මතාවයි.
(5) සහජීවනයයි.

**44.** රදගුරු පදවිය පාලනය කිරීම සහ රදගුරු හිමි පත්කිරීම ආදී කාර්යයන් සංසදයක් මඟින් ඉටු කරනු ලබන සභාව වන්නේ,
(1) කතෝලික සභාව ය. (2) ලංකා සභාව ය.
(3) ප්‍රෙස්බිටීරියන් සභාව ය. (4) බැප්ටිස්ට් සභාව ය.
(5) දකුණු ඉන්දියානු සභාව ය.

**45.** කිතුනු නො වන අන්‍යාගම් කෙරෙහි ශුද්ධ වූ සභාවේ දැක්ම හා ආකල්ප පිළිබඳ අවධානය යොමු කිරීම සඳහා ලේකම් කාර්යාංශයක් ස්ථාපිත කරනු ලැබුවේ කිනම් වසරේ ද?
(1) 1848 (2) 1864 (3) 1948 (4) 1964 (5) 2000

**46.** අපෝස්තුළුවරුන්ගේ යුගයේ දී, 'අත් තැබීමේ පිළිවෙත' නමින් හඳුන්වනු ලැබූ දේව ප්‍රසාද නිධානයට 'අභිවෘද්ධි ආලේපය' යන නම භාවිත කළේ කිනම් ශත සියවසේ දී ද?
(1) 3 (2) 4 (3) 5 (4) 6 (5) 7

**47.** ක්‍රිස්තුන් වහන්සේගේ ප්‍රතිඥාවත්, නියෝගයත් ඒකාබද්ධ වන මහා අභිරහස් සක්‍රමේන්තුව වන දිව්‍ය සත්ප්‍රසාදය හා සම්බන්ධ සුවිශේෂ පාඨය කුමක් ද?
(1) "මා සිහි කිරීම පිණිස මෙය සිදු කරන්න." (2) "මම ද කල්පාන්තය දක්වා ඔබ සමඟ සිටිමි."
(3) "ජීවනදායක භෝජනය මම ය." (4) "මා අනුභව කරන්නා සදහට ම ජීවත් වන්නේ ය."
(5) "අප සමඟ නතර වුව මැනව, ස්වාමිනි."

**48.** ගුරු ජෝන් වෙස්ලිගේ සුභාරංචි සේවාවේ පුනරුදයක් ලෙස ඇරඹුණු සභාව වන්නේ,
(1) ඇන්ග්ලිකන් සභාව ය. (2) ලංකා සභාව ය.
(3) මෙතෝදිස්ත සභාව ය. (4) ප්‍රොතෙස්තන්ත සභාව ය.
(5) ප්‍රෙස්බිටීරියන් සභාව ය.

**49.** මනුෂ්‍යාගේ කැඳවීම පූර්ණත්වයට පත් කරනු සඳහා අත්‍යවශ්‍ය සාධකයක් බවට කතෝලික සභා ධර්මෝපදේශය උගන්වන්නේ,
(1) 'ඔහු පොහොසත් ව ජීවත්විය යුතු ය' යන්න ය. (2) 'දේව ප්‍රසාද නිධාන ලබා ගත යුතු ය' යන්න ය.
(3) 'දිනපතා යාච්ඤා කළ යුතු ය' යන්න ය. (4) 'දිනපතා දිව්‍ය පූජාවට සහභාගී විය යුතු ය' යන්න ය.
(5) 'සමාජීය ව ජීවත් විය යුතු ය' යන්න ය.

**50.** දෙවැනි සියවස ආරම්භයේ දී 'අපෝස්තුළුවරුන්ගේ ඉගැන්වීම්,' ඇතුළත් ග්‍රන්ථයෙහි දක්වා ඇති ආකාරයට ප්‍රසාද ස්නාපනය ලැබීමට බලාපොරොත්තු සියලු දෙනා විසින් පෙර සූදානමක් හැටියට ඉටු කළ යුතු කාර්යයක් වන්නේ,
(1) එක්වරු ශීලය රැකීම ය. (2) ශාරීරික ව පිරිසිදු වීම ය.
(3) පාපෝච්චාරණය කිරීම ය. (4) සුදු වස්ත්‍ර සූදානම් කිරීම ය.
(5) සභාවේ මූලිකයන් හමුවීම ය.

* * *

AL/2016/43/S-II



අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப்) பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

ක්‍රිස්තියානි ධර්මය II
கிறிஸ்தவம் II
Christianity II

43 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

**උපදෙස් :**

✳ I කොටසින් ප්‍රශ්න **දෙකක්** ද, II කොටසින් ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) ජුදා ජනතාවගේ සිනගෝගයේ වැදගත්කම පිළිබඳ කරුණු **හතරක්** ලියන්න.
 (ii) ශුද්ධ වූ පාවුලුතුමාගේ පෞද්ගලික ජීවිතය පිළිබඳ කරුණු **හතරක්** සඳහන් කරන්න.
 (iii) මුල් කිතුනු සභාවේ සේවාචාර්යවරුන් (දියාකෝනිවරුන්) සිදු කළ කාර්ය **හතර** සඳහන් කරන්න.
 (iv) ක්‍රි.ව. 325-451 අතර පවත්වන ලද ක්‍රිස්තුවේදී ජගත් මන්ත්‍රණ සභා **හතර** නම් කරන්න.
 (v) මුල් කිතුනු ජනවන්දනාවට ජුදා මූලාශ්‍රවලින් ලැබුණු ආභාස **හතරක්** සඳහන් කරන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

2. (i) මධ්‍යකාලීන යුගයේ චිත්‍ර ශිල්පයේ උන්නතියට දායක වූ පුද්ගලයින් **හතරදෙනකු** නම් කරන්න.
 (ii) දිවැසිවරයා යනු කවුරුන් දැ'යි තහවුරු කිරීම සඳහා ලියැවී ඇති නිර්වචන **හතරක්** ලියන්න.
 (iii) තෝමස්තුමාට දර්ශනය වීම මගින් ජොහන්තුමා ශ්‍රාවකයන්ට දෙන ලද ආදර්ශ **හතරක්** කෙටියෙන් පැහැදිලි කරන්න.
 (iv) 1682 ජුලි 1 දරණ ආඥා පනතේ කතෝලිකයින්ට විරුද්ධව පැන වූ නීති නියෝග **හතරක්** දක්වන්න.
 (v) බ්‍රිතාන්‍ය යුගයේ බිහි වූ මධ්‍ය පාසල් කොමිසම මගින් අධ්‍යාපන ක්ෂේත්‍රයට සිදු වූ සේවා **හතරක්** පිළිබඳව විස්තර කරන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

3. (i) සීනයි ගිවිසුම ස්ථිර කිරීමේ පළමු අදියර (නික්මයාම 24 : 3 - 4) කරුණු **හතරකින්** දක්වන්න.
 (ii) බ්‍රිතාන්‍ය යුගයේ ලංකාවට පැමිණි නිර්මල මරිය නිකායෙන් සිදු වූ සුවිශේෂී සේවා **හතරක්** ලියන්න.
 (iii) දෙවන සියවස ආරම්භයේ දී ප්‍රසාද ස්නාපන සක්‍රමේන්තුව දානය කිරීමේ දී සිදු කළ ක්‍රියා **හතරක්** නම් කරන්න.
 (iv) ගරු ටෙයියාර්ඩ් ඩෙ ෂාර්ඩෑන් පියතුමා (1881 - 1955) පිළිබඳ කෙටියෙන් විස්තර කරන්න.
 (v) 1 කොරෙන්ති 12 : 21ට අනුව ඇස, අත, හිස සහ පාදය යන සංකේතවලින් පිළිබිඹු කෙරෙන කරුණු මොනවා ද?

(ලකුණු 04 × 5 = 20 යි)

## II කොටස

4. (i) විප්‍රවාසයෙන් අත්දුටු විශ්වාසයේ අභියෝගවලට මුහුණදීමේ දී වාචික සම්ප්‍රදායන් තුළ පැවති අදහස් ලේඛනගත කිරීමට අවශ්‍ය වූයේ මන්දැ'යි පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)
 (ii) දෙවියන් වහන්සේගේ අභිමතය හා සැලැස්ම ඉටු වූ ආකාරය පෙන්වා දීමට රචනා කරන ලද ශුද්ධ බයිබලය ඇසුරෙන් ඔබේ දිවියෙන් දේව අභිමතය ඉටු වන ආකාරය විස්තර කරන්න. (ලකුණු 10 යි)

5. (i) දේවානුභාවය ක්‍රියාත්මක වන ආකාර **තුන** නම් කර, ඒවා එකින් එක උදාහරණ දක්වමින් විස්තර කරන්න. (ලකුණු 10 යි)
 (ii) දේවානුභාවයෙන් ලියැවුණු දේව වචනය මගින් ද, විශේෂයෙන් නික්මයාම සිද්ධිය තුළින් ද දේව අනාවරණය ලබන ඔබ වත්මන් සමාජය තුළ දිව්‍ය සංරක්ෂණය අත්දකින්නේ කෙසේ දැ'යි පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

6. (i) මාටින් ලූතර් විසින් ආරම්භ කළ අවුස්බර්ග් ඇදහිල්ලේ සභාවේ ඉගැන්වීම් **දහයක්** පෙළගස්වන්න. (ලකුණු 10 යි)
 (ii) ක්‍රිස්තියානි කලාවේ පහත සඳහන් අංශ පිළිබඳ ප්‍රධාන කරුණු **දෙක** බැගින් විස්තර කරන්න.
 (අ) කිතුනු ලේඛනය
 (ආ) කිතුනු සංගීතය
 (ඉ) ගෘහ නිර්මාණ ශිල්පය
 (ඊ) කැටයම් ශිල්පය
 (උ) චිත්‍ර ශිල්පය

(ලකුණු 10 යි)

[ දෙවැනි පිටුව බලන්න.

**7.** (i) පෘතුගීසි පාලනයෙන් මෙරටට අත් වූ යහපත් ප්‍රතිඵල පිළිබඳ ව ඇගැයීමක් කරන්න. (ලකුණු 10 යි)

(ii) "ශුද්ධ වූ ජුසේවාස් පියතුමා හා ගරු ජාකෝමේ ගොන්සාල්වේස් පියතුමා ලක්දිවට පැමිණීම හේතුකොටගෙන ලක් කිතුනු සසුනට නව යුගයක් උදා විය." යන්න පිළිබඳ ව පහත සඳහන් ශීර්ෂ යටතේ විස්තර කරන්න.

(අ) ශුද්ධ වූ ජුසේවාස් පියතුමා සිදු කළ දුෂ්කර සේවය

(ආ) ශුද්ධ වූ ජුසේවාස් පියතුමාගේ දයා සේවය

(ඉ) ශුද්ධ වූ ජුසේවාස් පියතුමාගේ දේශීය සංස්කෘතික අංග ලක්දිව කතෝලික දහමට සම්බන්ධ කළ ආකාරය

(ඊ) ගරු ජාකෝමේ ගොන්සාල්වේස් පියතුමා සිංහල සාහිත්‍යයට සිදු කළ සේවය

(උ) ගරු ජාකෝමේ ගොන්සාල්වේස් පියතුමාගේ සංගීත කුසලතාව

(ලකුණු 10 යි)

**8.** (i) ලන්දේසි යුගයේ දී ශ්‍රී ලංකාවේ අධ්‍යාපනය ගොඩනැගුණු ආකාරය කරුණු **පහක්** ඔස්සේ විස්තර කරන්න. (ලකුණු 10 යි)

(ii) ශ්‍රී ලංකා දේශය තුළ මානව ගරුත්වය අභියෝගයට ලක් වූ අවස්ථාවල දී ලාංකීය කිතුනු සභාව ඒවා මැඩපැවැත්වීමට ඉදිරිපත් වූ අවස්ථා **පහක්** කෙරෙහි අවධානය යොමු කරමින් විස්තරයක් කරන්න. (ලකුණු 10 යි)

* * *